# රජයේ රැකවරණය සොයා එන්න කාරුණික ඉල්ලීම යි.

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

සති තුනක් මුළුල්ලෙහි පවතින හිංසාකිරි ක්‍රියා අනුව පින්වත් අගැතිනිය විසින් මේ මස 24 වැනි දින ගුවන් විදුලිය මඟින් පැවැත් වූ කථාව කා ගේත් සැලැකිල්ලටට හා ප්‍රසාදය භාජනය වී ඇත. ඒ කථාවෙහි ඉතා වැදගත් කරුණු තුනක් ඇතුළත් විය.

- හිංසාකාරී කටයුතු නතර කොට රජයට යටත් වන ලෙස කළ ඉල්ලීම,
- යටත් වන අයට හිරිහැර නොවන ලෙසට වගබලා ගන්නා පොරොන්දුව,
- ඔවුන් ගේ අනාගත අභිවෘද්ධිය සඳහා යොදාගෙන යන වැඩ පිළිවෙළ යනුයි.

මේ තරුණ තරුණයන් පුදුම ලෙස භයානක ලෙස නොමඟ යවා ඇති බව පැහැදිළි ය. කුමක් වුවත් ඒවා ගැන පසු ව කථා කළ යුතු වේ. ක්‍රියා කළ යුතු වේ. මේ අය ගෙන් වැඩි දෙනා දැන් තමන් නොමඟ ගිය බව වටහාගෙන අසරණ සිටිනවාට සැකයක් නැත.

ඒ අයට පිළිවන් ඉක්මනින් රජයේ රැකවරණයට එන්නට මඟ පාදා දිය යුතු ය. එ හෙයින් රජයට යටතේ වීම පිළිබඳ ව නියෝග හෙවත් පිළිවෙළ පිළිවන් ඉක්මනින් ඔවුන් අතට පත් කළ යුතු වේ. ඒ නියෝග නිකුත් කරන විට පහත සඳහන් කරුණු රජයේ සැලැකිල්ලට භාජනය කරන මෙන් කරුණවෙන් මතක් කරමි.

- රජයේ රුකවරණය සොයා එන අයට කිසි ම අතවරයක් නොවන ලෙසට වග බලා ගන්නා බව,
- රැකවරණයට පැමිණිය යුතු තැන් දැන්වීම,
- රැකවරණයට පැමිණි අය පමා නැති ව විනිශ්චයකාරතුමකු වෙතට පමුණුවා ඔවුන් ආරක්‍ෂා ස්ථානවලට යැවීම (මේ කටයුත්ත පමා නොකිරීම සඳහා ඒ ඒ පළාත්වල දැනට ඉන්නා විනිශ්චයකාරවරුනට අතිරේක ව විශ්‍රාම ලත් විනිශ්චයකාරවරුන්, රජයේ නීතිඥවරුන් පත් කළ හැකි වේ.)
- රජයේ රැකවරණයට පැමිණීම සඳහා දින නියමයක් කිරීම, දින තුන හතරක් හෝ සතියක් හෝ ප්‍රමාණවත් වනවා ඇත.
- ඒ කාලය තුළ සම්පූර්ණ අාරක්‍ෂා සංවිධානය ඇති ව සිටින අතර ඔවුන් මර්දනය කිරීමේ කටයුතුවල නොයෙදෙන ලෙස චතුර්විධ හමුදාවට නියම කිරීම.

මේ කරුණුත් හොඳින් කල්පනා කොට බලා රජයේ පින්වතුන් විසින් පිළියෙළ කැරෙන නියෝග මුද්‍රණය කරවා නොපමා ව අහස්යානා මඟින් ඔවුන් ඉන්නා ප්‍රදේශවල විසුරුවා හැරීම ඉක්මන් වූ තරමට ජීවිත රාශියක් බේරාගත හැකි වනු ඇත.

හිංසාකාරී කටයුතු වල යෙදී සිටින තරුණ තරුණයනි. ඔබ අපේ ජාතියේ ජීවය යි. ඔබේ වටිනා තරුණ ශක්තිය කුවුරුන් හෝ බලවත් පිරිසක් නොමඟ යවා ඇත. ඒ අය කෙළේ ඔබටත් ආගමටත් ජාතියටත් බලවත් විනාශයකි. එය දැන් වත් නුවණින් වටහාගෙන පමා නැති ව රජයේ රැකවරණනයට පැමිණෙන ලෙස ඔබෙන් ඉල්ලා සිටින්නේ රට, ජාතිය හා ආගම කෙරෙහි මහත් ළැදියාවෙකිනි. එ සේ පමා නැති ව රජයේ රැකවරණයට පැමිණීම ඔබේ අනාගතාභිවෘද්ධියට හේතු වනවා එකාන්ත යි.

දවස 1971.04.28
ප්‍රඥාප්‍රභා 1

යතුරුලිවීම: සැන්ටා ටයිප්සෙටින්